රහස්‍ය ලේඛනයකි.

උත්තර පත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා පමණි

# ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව

## පාසල්වලට සිසුන් තෝරාගැනීමට සහ ශිෂ්‍යාධාර ප්‍රදානය කිරීමට පස්වැනි ශ්‍රේණියේ සිසුන් සඳහා පැවැත්වෙන විභාගය

## 2023

# උත්තර පත්‍ර පරීක්ෂකවරුන් සඳහා උපදෙස් සහ ලකුණු දීමේ පටිපාටිය

## II පත්‍රය














සියලු ම හිමිකම් ඇවිරිණි.

සංශෝධනවලට යටත් ය.

# පාසල්වලට සිසුන් තෝරාගැනීමට සහ ශිෂ්‍යාධාර ප්‍රදානය කිරීමට පස්වැනි ශ්‍රේණියේ සිසුන් සඳහා පැවැත්වෙන විභාගය - 2023

## II පත්‍රය

## උත්තර පත්‍ර පරීක්ෂකවරුන් සඳහා උපදෙස් සහ ලකුණු දීමේ පටිපාටිය

**1. උත්තර පත්‍ර ලකුණු කිරීමේ දී සැලකිය යුතු කරුණු**

1.1 සෑම ප්‍රශ්නයක ම නිවැරදි ප්‍රතිචාරයක් සඳහා **"✓"** සලකුණ ද එයට හිමි ලකුණු ප්‍රමාණය ද වැරදි ප්‍රතිචාරයක් සඳහා **"×"** සලකුණ ද 00 ද පිටුවෙහි ප්‍රධාන කොටුවෙන් පිටත දකුණුපස තීරයෙහි පැහැදිලි ව සටහන් කරන්න.

1.2 එක් එක් පිටුවේ නිවැරදි පිළිතුරු සඳහා වූ ලකුණුවල එකතුව එම පිටුවේ දකුණුපස පහළ කෙළවරේ ඇති **කොටුව තුළ අංක දෙකකින් සටහන් කරන්න.**

1.3 එක් එක් පිටුවේ සටහන් කළ ලකුණුවල එකතුව මුල් පිටුවේ අදාළ පිටු අංකයට ඉදිරියෙන් ඇති කොටුව තුළ සටහන් කරන්න.

1.4 සමස්ත උත්තර පත්‍රය සලකා අත්අකුරු සහ ඉලක්කම් පැහැදිලි ව සහ නිවැරදි ව ලියා ඇත්නම් අමතර ලකුණු **දෙකක්** ප්‍රදානය කරන්න. එසේ ම අත්අකුරු **අපැහැදිලි** තත්ත්වයකින් තිබුණත් නිවැරදි ව ලියා ඇත්නම් ලකුණු 01ක් ප්‍රදානය කරන්න. එම ලකුණු + 02 හෝ + 01 හෝ **+ 00** ලෙස පිටු අංක 8හි ලියා ඇති මුළු ලකුණ ඉදිරියෙන් **+** ලකුණ යොදා ඇතුළත් කරන්න. එසේ ම මුල් පිටුවේ අටවන පිටු අංකයට අදාළව ලකුණු සටහන් කර ඇති තැන ද +02 හෝ +01 හෝ **+00** අමතර ලකුණ යොදන්න. (**+02** හෝ **+01** ලෙස ලකුණු **නොදෙන්නේ නම් ලකුණු +00** ලෙස සටහන් කරන්න.)

1.5 සියලු ම ලකුණුවල එකතුව අවසාන ලකුණ යටතේ **ඉලක්කමෙන්** සහ **අකුරෙන්** අදාළ කොටු තුළ ලියන්න.

**2. ලකුණු දීමේ පටිපාටිය පිළිබඳ කෙටි විස්තරයක්**

2.1 ප්‍රශ්න අංක 1 සිට 8 තෙක් සහ 10 සිට 14 තෙක් ප්‍රශ්නවල සියලු ම කොටස්වල නිවැරදි පිළිතුරු සඳහා ලකුණු 01 බැගින් ප්‍රදානය කරන්න.

2.2 ප්‍රශ්න අංක 9 සඳහා ලකුණු 02ක් ප්‍රදානය කරන්න.

2.3 ප්‍රශ්න අංක 15 සිට 29 තෙක් ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු සඳහන් වේ නම් ලකුණු 02 බැගින් ප්‍රදානය කරන්න.

2.4 ප්‍රශ්න අංක 30 සිට 59 තෙක් නිවැරදි පිළිතුරු සඳහා ලකුණු 01 බැගින් ප්‍රදානය කරන්න.

2.5 ප්‍රශ්න අංක 60 (වගන්ති) සඳහා එක් වගන්තියකට ලකුණු 02 බැගින් ප්‍රදානය කරන්න.

2.6 ප්‍රශ්න අංක 1 සිට 9 තෙක් (ප්‍රශ්න අංක 02,03 සහ 09 හැර) සහ 60 පිළිතුරුවල අක්ෂර වින්‍යාසය නිවැරදි ව තිබිය යුතුයි.

2.7 ප්‍රශ්න අංක 10,11 පිළිතුරුවල සියලු ම අකුරු නිවැරදි විය යුතුයි. ඉංග්‍රීසි වචනවල කැපිටල් සිම්පල් මිශ්‍ර ව ලියා තිබුණ ද ලකුණු ලබා දෙන්න.

2.8 නිවැරදි පිළිතුර යටින් ඉරක් ඇඳීමට උපදෙස් ලබා දී ඇති ප්‍රශ්නවල නිවැරදි පිළිතුර කෙසේ හෝ සලකුණු කර තිබේ නම් එම පිළිතුර නිවැරදි සේ සලකන්න.

## 3. ලකුණු ලැයිස්තු සකස් කිරීමේ දී සැලකිය යුතු කරුණු

3.1 ලකුණු ලැයිස්තුවේ "Total marks" තීරුව, ලකුණු ඇතුළත් කිරීම සඳහා භාවිත කරන්න.

3.2 එම තීරුවේ එක් එක් අපේක්ෂකයාගේ විභාග අංකය ඉදිරියේ, ඊට නියමිත උත්තර පත්‍රයේ සඳහන් අවසාන ලකුණ සටහන් කරන්න.

3.3 අවසාන ලකුණ ඉදිරියෙන් එය **අකුරෙන් පැහැදිලි** ව ලියන්න.

3.4 ලකුණු ලැයිස්තුව සකස් කිරීමේ දී යම් වරදක් සිදු වුවහොත්, එය පැහැදිලි ව **තනි ඉරකින් කපා** නැවත ලියා ලකුණු ඇතුළත් කළ හා පරීක්ෂා කළ පරීක්ෂකවරුන් දෙදෙනාගේ කෙටි අත්සන් යොදන්න.

3.5 කිසියම් සංශෝධනයක් කරනු ලැබුවහොත්, පළමුවැනි පරීක්ෂක හා දෙවැනි පරීක්ෂක කෙටි අත්සන් යොදා එය සනාථ කරන්න.

3.6 සංශෝධනයක් කරනු ලබන සෑම අවස්ථාවක දී ම ලකුණු ලැයිස්තුවත් පිළිතුරු පත්‍රයත් ප්‍රධාන පරීක්ෂකට පෙන්වා ඔහුගේ/ඇයගේ අත්සන ද ලබා ගන්න.

3.7 සෑම සංශෝධනයක් ම, ලකුණු ලැයිස්තුවේ පසුපිටෙහි "වෙනත් කරුණු" සඳහා වෙන් ව ඇති ස්ථානයේ ද සටහන් කර පරීක්ෂකවරුන් දෙදෙනාගේ ම සම්පූර්ණ අත්සන් යොදන්න.

3.8 සෑම ලකුණු ලැයිස්තුවක් ම ප්‍රධාන පරීක්ෂක, ලකුණු ඇතුළත් කළ පරීක්ෂක, පරීක්ෂා කළ පරීක්ෂක සහ ඇගයීම් ලකුණු තහවුරු කළ පරීක්ෂක (EMF) විසින් ස්වකීය සංකේත අංක සහ අත්සන් යොදා සහතික කර තිබීම අනිවාර්ය වේ.

**උත්තර පත්‍ර ලකුණු කිරීමේ දීත් ලකුණු ලැයිස්තු පිළියෙල කිරීමේ දීත් පිරිසිදු ව, පැහැදිලි ලෙස, සම්මත ආකාරයට කටයුතු කිරීමට සැලකිලිමත් විය යුතු ය.**

**උත්තර පත්‍රයක හෝ ලකුණු ලැයිස්තුවක හෝ යම් වෙනසක් සිදු කරන්නේ නම් එය පළමු පරීක්ෂක විසින් ම සිදු කළ යුතු ය. එනමුත් ඒ සියල්ල ප්‍රධාන පරීක්ෂකගේ අනුමැතිය ඇති ව කළ බවට ප්‍රධාන පරීක්ෂකගේ අත්සන ද යෙදිය යුතු අතර ගණිත පරීක්ෂක හා උත්තර පත්‍රය පරීක්ෂා කළ දෙවැනි පරීක්ෂකගේ ද කෙටි අත්සන යෙදිය යුතු ය.**

# II පත්‍රය
## ලකුණු දීමේ පටිපාටිය

| ප්‍රශ්න අංකය | පිළිතුරු | ලකුණු |
|---|---|---|
| 1. | (i) සඳුදා<br>(ii) දින චර්යාව (කොමා යොදා තිබුණ ද නිවැරදි ය.)<br>(iii) ගෙවත්තේ වැඩවලට උදවු වීම<br>(iv) (නිමාලිගේ/ ඇයගේ/ තමාගේ/ තම) ගෙවත්ත නැරඹීමට එන ලෙස (ආරාධනා කිරීම.) (එන වෙනුවට පැමිණෙන ලෙස තිබුන ද නිවැරදිය.)<br>(v) කාලසටහනකට අනුව වැඩ කිරීමේ වැදගත්කම / කාලසටහනකට වැඩ කිරීමේ වැදගත්කම<br>(vi) (නිමාලි/ ඇය) දිනපතා පාසලට පැමිණෙන (බව) සහ පාසලේ කටයුතු අතපසු නොකරන (ශිෂ්‍යාවක) බව/ බවයි. | 01<br>01<br>01<br>01<br>01<br>01 |
| 2. | (i) ✓<br>(ii) ✓<br>(iii) ×<br>(iv) ✓<br>(v) × | 01<br>01<br>01<br>01<br>01 |
| 3. | (i) බලයි. | 01 |
| 4. | (i) (1) ප්‍රදර්ශන<br>(ii) (3) ළදරුවා<br>(iii) (2) ලේඛිකාව | 01<br>01<br>01 |
| 5. | අපි පාසල් වැඩවල නිරත වීමු. / වූවෙමු. / වූයෙමු. / වුණෙමු. | 01 |
| 6. | (i) වනය / වනාන්තරය / බැද්ද / මූකලාන / වල / අරණ<br>(ii) ග්‍රන්ථය / පුස්තකය / ගත / කෘතිය | 01<br>01 |
| 7. | (i) නිසල<br>(ii) බබළයි (ස්ථාන මාරු කර තිබුණ ද ලකුණු ලබා දෙන්න.) | 01<br>01 |
| 8. | (i) ඇඟිල්ලේ තරමට ඉදිමෙන්න.<br>(ii) ඇවිලෙන / ඇවිළෙන ගින්නට පිදුරු නොදමන්න. | 01<br>01 |
| 9. | 'පිරිසිදු පරිසරයක්' යන තේමාව පැහැදිලි වන සේ පෝස්ටර් තරගයක් පවත්වන ලදී. (තනි උඩු කොමා වෙනුවට යුගල උඩු කොමා යොදා තිබුණ ද ලකුණු ලබා දෙන්න. විරාම ලක්ෂණ දෙක ම නිවැරදි නම් පමණක් ලකුණු 02ක් ලබා දෙන්න. වෙනත් වැරදි විරාම ලක්ෂණ යොදා තිබුණොත් ලකුණු නොලැබේ.) | 02 |
| 10. | (i) P e a c o c k<br>(ii) P u m p k i n<br>සිම්පල් / කැපිටල් අකුරු ලියා තිබුන ද පිළිතුර නිවැරදි නම් පිළිගන්න. | 01<br>01 |

| | | |
|---|---|---|
| 11. | (i) My sister has ten rupees.<br>(ii) We want to buy a bat.<br>(අකුරු නිවැරදි ව ලියා තිබිය යුතු ය.) | 01<br>01 |
| 12. | (i) දෙමව්පියන් / මව්පියන් / දෙමව්පියෝ / මව්පියෝ<br>(ii) ගින්දර / ගින්න / ගිනි ඇවිලීම / ගිනි (අක්ෂර වින්‍යාසය නොසලකන්න.) | 01<br>01 |
| 13. | කකුල / පාදය / පය (අක්ෂර වින්‍යාසය නොසලකන්න.) | 01 |
| 14. | වෙළියේ පෝහලාමා / පෝකලාමා / පෝගලාමා / පෝහවා<br>(අක්ෂර වින්‍යාසය නොසලකන්න. ප්‍රශ්නාර්ථ ලකුණ නොදා තිබුණ ද නිවැරදි ය.) | 01 |
| 15. | 3640 / 3 640 | 02 |
| 16. | 5 479 / 5479<br>9 475 / 9475<br>(එක් සංඛ්‍යාවක් පමණක් නිවැරදි නම් ලකුණු 01යි.) | 02 |
| 17. | 7, 11 (එක් සංඛ්‍යාවක් පමණක් නිවැරදි නම් ලකුණු 01යි.) | 02 |
| 18. | විසි දහස් හයසිය පනහ / පනහා | 02 |
| 19. | 59 / 59 යි. / පනස් නවයයි (මගීන් 59 ලෙස ලියා තිබුණ ද නිවැරදි ය.) | 02 |
| 20. | 8 / 8 යි. / අටයි. (අඹ ගෙඩි / අඹ ලෙස ලියා තිබුණ ද නිවැරදි ය.) | 02 |
| 21. | සනකය | 02 |
| 22. | 17 25 (අකුරෙන් ලියා තිබුණ ද නිවැරදි ය.) | 02 |
| 23. | පස්වරු 1.30 / 13:30 / ප.ව. 1.30 / පස්වරු එක පසුවී මිනිත්තු තිහ / තිහයි. | 02 |
| 24. | 47 / 47 යි./ හතළිස් හතයි. (සිසුන් ලෙස ලියා තිබුණ ද නිවැරදි ය.) | 02 |
| 25. | 12 250 | 02 |
| 26. | 5 / 5 යි. / පහයි | 02 |
| 27. | 255 / 255.00<br>2<br>(එක් පිළිතුරක් පමණක් නිවැරදි නම් ලකුණු 01යි.) | 02 |
| 28. | 4/ වාර 4/ 4 වාරයක්/ 4යි/ (ඉලක්කම අකුරෙන් ලියා තිබුණ ද නිවැරදි ය.) | 02 |
| 29. | (i) 5 / 5යි.<br>(ii) 23 / 23යි.<br>(සංඛ්‍යා අකුරෙන් ලියා තිබුණ ද නිවැරදි ය.) | 01<br>01 |

| | | |
|---|---|---|
| 30. | (3) - සහල් වර්ගයකි. | 01 |
| 31. | (2) - දිරාපත්වන කුණු රොඩු පසට එකතු කිරීම | 01 |
| 32. | (1) - ජේර ය | 01 |
| 33. | (2) - එම ස්ථානයේ පස සෝදායාමට ලක්වී තිබීම | 01 |
| 34. | (3) - ලෙඩ රෝගවලින් ආරක්ෂා වීම සඳහා ය. | 01 |
| 35. | (2) - ශරීරයේ බර අඩු වීම. | 01 |
| 36. | (3) - උණුසන්නිපාතය | 01 |
| 37. | (1) - විදේශීය ආක්‍රමණිකයන්ගෙන් රට බේරා ගැනීමට කටයුතු කළ බැවිනි. | 01 |
| 38. | (3) - කළු පැහැති හා දුඹුරු පැහැති පිහාටු සහ රතු පැහැති ඇස් ඇත. | 01 |
| 39. | (2) - විල්බැරෝව | 01 |
| 40. | (1) - ඉක්මන් සුවය සඳහා වැඩි මාත්‍රාවක් ගැනීමයි. | 01 |
| 41. | (1) - උදවු ඉල්ලා කෑ ගැසීම | 01 |
| 42. | (3) - බඳුන් තුනේ ම ඇත්තේ සමාන ජල ප්‍රමාණයකි. | 01 |
| 43. | (2) - තෙල් සිඳ ගැනීමට ය. | 01 |
| 44. | (1) - සතුන්ගේ සංඛ්‍යාව ඉතා ඉක්මනින් වැඩි වී ඉන් පසු අඩු වේ. | 01 |
| 45. | (2) - විදුලි ඉස්ත්‍රික්කය භාවිතයේ දී දින කිහිපයකට අවශ්‍ය ඇඳුම් එකවර මැද ගැනීම. | 01 |
| 46. | (3) - පාර හරහා යාමේදී දෙපස බැලීම අවශ්‍ය නොවීමයි. | 01 |
| 47. | (1) - සතුන් මගින් | 01 |
| 48. | (3) - ජලය නොමැතිකම | 01 |
| 49. | (2) - ආදර්ශ ලෝක ගෝලය එහි අක්ෂය වටා කර කැවීම ය. | 01 |
| 50. | (1) - මී මැස්සා ය. | 01 |
| 51. | (2) - ලුණු මිශ්‍ර සිසිල් ජලයයි. | 01 |
| 52. | (3) - තමා කැමති දේවල්වලට අකමැති අයද සිටිය හැකි බව | 01 |
| 53. | (1) - ශාකවල කොළ පැහැති පත්‍ර අතර කොළ පැහැති පණුවන් සිටීමයි. | 01 |
| 54. | (2) - ස්වයංපෝෂිත බව හා සශ්‍රීකත්වයයි. | 01 |
| 55. | (3) - ශාරීරික නීරෝගී බවට හේතුවක් වේ. | 01 |
| 56. | (1) - භාණ්ඩ නිසි පරිදි නඩත්තු කළ යුතු ය. | 01 |
| 57. | (1) - සතුන්ට ඔවුන්ගේ පරිසරයේ ම ජීවත්වීමට අවස්ථාව සැලසීමයි. | 01 |
| 58. | (2) -  | 01 |

| | | |
|---|---|---|
| 59. | (3) - බල්බය ගැලවීමට තෙත රෙදි කැබැල්ලක් යොදා ගැනීම. | 01 |
| 60. | **නිවැරදි වාක්‍ය 03**<br><br>**වගන්ති සඳහා උපදෙස්**<br>(i) නිවැරදි වාක්‍ය තුනට **ලකුණු 02 බැගින් (02×3) ලකුණු 06** ක් ලබාදෙන්න.<br>(ii) සෑම වාක්‍යයක් ම වචන **පහකට (05)** නොඅඩු විය යුතු ය.<br>(iii) උක්ත ආඛ්‍යාත සම්බන්ධය නිවැරදි විය යුතු ය.<br>(iv) අක්ෂර වින්‍යාසය නිවැරදි විය යුතු ය.<br>(v) සිද්ධියට අදාළ විය යුතු ය.<br>(vi) ලිඛිත භාෂාවෙන් ලියන ලද වැකි විය යුතු ය.<br>(vii) වැකියේ අදහස නිවැරදි විය යුතු ය.<br>(viii) එක ම අදහස නැවත නැවත ලිවීම සිදු වී ඇත්නම් **ලකුණු නොලැබේ.**<br>(ix) වගන්ති අතීත කාලයෙන් විය යුතු ය.<br><br>• වැකියේ එක් වචනයක අකුරක අඩුපාඩුවක් හෝ පිල්ලමක අඩුවක් හෝ වේ නම් ලකුණු 01කි.<br>අඩුපාඩු එකකට වැඩි නම් ලකුණු නොලැබේ. | 02×3=06 |

## සිසුන් ලියා ඇති වාක්‍ය

1. මම ද ජනිත්ගේ යෝජනාවට එකඟ වූවෙමි. ✓
2. කඩදාසි ඔරු සෑදීමට අවශ්‍ය කඩදාසි ගෙන ආවෙමි. ✗
3. අපි දෙදෙනා කඩදාසි ඔරු සාදා පාකර යැවුවෙමු. ✓
4. මම යහළුවාගේ යෝජනාව සතුටින් පිළිගත්තෙමි. ✓
5. ඉවත දැමූ කඩදාසියක් ගෙන ජනිත් සහ මම ඔරුවක් සෑදුවෙමු. ✓
6. මම කඩදාසි ඔරුව ගිලී ඉරීයන විට දුක් වූයෙමු. ✗
7. ජනිත් කඩදාසි ඔරු සාදා මට වතුරෙහි පා කරන ලෙස පවසා මා අතෙහි තැබුවේය. ✓
8. මම ඉක්මනින් මාගේ කාමරය තුළට දුව ගොස් කඩදාසි කොළ කිහිපයක් රැගෙන එළියට දුව ගියෙමි. ✓
9. අපු දෙදෙනා කඩදාසි ඔරු සාදා වැසි ජලයේ පා කර සතුටු වුණෙමු. ✗
10. යහළුවා සමඟ මම කඩදාසි ඔරු සාදා වතුරේ පාවෙන අයුරු බලා සිටියෙමු. ✗
11. මම ද ජනිත් ද බිම වාඩි වී කඩදාසි ඔරු සෑදුවෙමු. ✓
12. මම කඩදාසි කීපයක් ගෙන බෝට්ටු සාදමි. ✗
13. මම කඩදාසි බෝට්ටු එකවරම ජලයට දමා පා කරමි. ✗
14. අපි දෙදෙනා මාගේ පරණ පොතකින් කඩදාසි කොළ කිහිපයක් කඩා ගත්තෙමු. ✓
15. ජනිත් සහ මම කඩදාසි බෝට්ටුවක් සෑදුවෙමි. ✗
16. මම ජනිත්ගේ කතාවට එකඟ වී කොළයක් කඩමි. ✗
17. එය යන විට මට එම ඔරුවේ යාමට ඇතැයි සිතුනි. ✗
18. සමන්ගේ මිදුලේ තවත් ඔරු පාවී යනවා මම දුටුවෙමි. ✗
19. අපි දෙදෙනා ඉතා ආශාවෙන් එම ඔරු පාවී යන ආකාරය බලා සිටියෙමි. ✗
20. අපි විවිධ හැඩයේ බෝට්ටු සකසමින් ජලයේ පා කළෙමි. ✗
21. මම වැස්ස අඩුවන තුරු ජනිත්ගේ නිවසේ රැඳී සිටියෙමි. ✗
22. මම කුඩයක් රැගෙන මගේ නිවස බලා ගියෙමි. ✗
23. මමත් ජනිතුත් කඩදාසි ඔරු පා කර හැරියෙමු. ✓
24. මම ජනිත් සමඟ එක් වී කඩදාසි ඔරු ගොඩක් සෑදුවෙමි. ✗
25. මම කඩදාසි කොළයක් සොයා ගත්තෙමි.
26. වැස්සේ ඔරු පාකර හරින විට මට මහත් සතුටක් දැණුනි. ✗

**පාසල්වලට සිසුන් තෝරාගැනීමට සහ ශිෂ්‍යාධාර ප්‍රදානය කිරීමට**
**පස්වැනි ශ්‍රේණියේ සිසුන් සඳහා පැවැත්වෙන විභාගය - 2023**
**උත්තර පත්‍ර පරීක්ෂකවරුන් සඳහා උපදෙස් සහ ලකුණු දීමේ පටිපාටිය - II පත්‍රය**
**සංශෝධන**

පිටු අංක 1හි උත්තරපත්‍ර පරීක්ෂකවරුන් සඳහා උපදෙස් සහ ලකුණු දීමේ පටිපාටිය යටතේ අනු අංක 2හි 2.7 කොටස පහත පරිදි සංශෝධනය වේ.

2.7 ප්‍රශ්න අංක 10 පිළිතුරෙහි සියලුම අකුරු නිවැරදි විය යුතුයි. ඉංග්‍රීසි වචනවල කැපිටල් සිම්පල් මිශ්‍ර ව ලියා තිබුණ ද ලකුණු ලබා දෙන්න.
ප්‍රශ්න අංක 11 බලා ලිවීම සිදුකරන බැවින් සියලුම අකුරු නිවැරදි විය යුතු අතර වාක්‍ය දෙකෙහි මුල් අකුරු දෙක කැපිටල් විය යුතුය. අනෙක් අකුරු සිම්පල් විය යුතුය.